2643

සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது /All Rights Reserved]

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

15 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)
General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)

| | | |
|---|---|---|
| ක්‍රිස්තියානි ධර්මය | I, II | පැය තුනයි |
| கிறிஸ்தவம் | I, II | மூன்று மணித்தியாலம் |
| Christianity | I, II | Three hours |

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

## ක්‍රිස්තියානි ධර්මය I

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** ජේසු උපත බෙත්ලෙහෙමෙහි සිදුවීමට තුඩුදුන් හේතුව වන්නේ,
(1) ගාබ්‍රියල් දේවදූතයා මරියාට හා ජෝසප්ට දුන් අවවාදයයි.
(2) සංගණනය බෙත්ලෙහෙමේදී සිදුවීමයි.
(3) සෙකරියා දුටු දර්ශනයයි.
(4) දිවැසිවරුන් අනුගමනය කිරීමට ගත් තීරණයයි.

**2.** "අන්ධකාරයේ ඇවිද්ද සෙනඟ මහත් ආලෝකයක් දුටුවෝ ය." මෙම දිවැස් වැකිය පලකළේ කුමන දිවැසිවරයා විසින් ද?
(1) එලියා (2) මලාකි (3) මීකා (4) යෙසායා

**3.** දෙවියන් වහන්සේ දිවැසිවරු මගින් මෙසියස්තුමාගේ පැමිණීම ප්‍රකාශ කරන ලදී. එමගින් අද ධර්මදූත සේවයට ලබා දෙනු ලබන පණිවුඩය කුමක් ද?
(1) ජනතාව දේවස්ථානය වෙත යොමු කරවා ගැනීම
(2) බලාපොරොත්තුවේ පණිවුඩය ප්‍රකාශ කිරීම
(3) අධිස්වාභාවික මැදිහත්වීම් බලාපොරොත්තුවීම
(4) දිවැස් වැකි පල කරන කෘතීන්වලින් පමණක් මගපෙන්වීම් ලබාගැනීම

**4.** "මාගේ ස්වාමීන්ගේ මෑණියන්" කියා එලිසබෙත් විසින් මරියා පිළිගැනීමට තුඩුදුන් හේතුව කුමක් ද?
(1) ඥාති සම්බන්ධය (2) සම්ප්‍රදායක් වීම
(3) සමාජ ජනප්‍රියත්වය (4) ශුද්ධාත්මයාණන් වහන්සේගේ මගපෙන්වීම

**5.** 'ජේසුස්' යන නාමයේ අර්ථය වන්නේ,
(1) දෙවියන් වහන්සේ මුදන සේක යන්නයි. (2) ආලේප ලත් තැනැත්තාය යන්නයි.
(3) දෙවියන් වහන්සේට සතු වේ යන්නයි. (4) ජේහෝවා ජයිරේය යන්නයි.

**6.** මෙසියස් උපත පිළිබඳ අනාවැකි ජනතාවට සමීප ව පිළිගැනීමට හැකිවූයේ,
(1) සාමකාමී සමයක් පැවති නිසා ය.
(2) ආර්ථික හා දේශපාලනමය අර්බුද කාලයක් වූ නිසා ය.
(3) ජේසුස් වහන්සේගේ කාලයේ සිටි රජවරුන් නිසා ය.
(4) විදේශ පාලන සමයක ආරම්භය නිසා ය.

[දෙවැනි පිටුව බලන්න.

7. ආර්ථික අර්බුදයකට මුහුණ දෙන කාලයකදී කළයුතු යැයි ජේසුස් වහන්සේ අපට උගන්වන්නේ කුමක් ද?
(1) ප්‍රථමයෙන් අපේ අවශ්‍යතා සපුරාගැනීමයි.
(2) ප්‍රශ්න විසඳීමට ප්‍රචණ්ඩ ක්‍රියා මාර්ගයකට යොමු වීමයි.
(3) නිහඬව සිටීමයි.
(4) ඉවසිලිවන්තව ප්‍රේමයෙන් යුක්ති සහගතව ක්‍රියා කිරීමයි.

8. ස්නාවක ජොහාන් ප්‍රකාශ කළ අනුශාසනා මගින් අප ලබන අවවාද මොනවා ද?
(1) බලයේ රැඳීමට තම නිලය භාවිත කිරීම
(2) තමා සතු සියලු වස්තූන් දුගීන් හට පවරා දීම
(3) මනස්තාප වී පාපයෙන් ඉවත් වීම
(4) දැනට පවතින තම ජීවිත රටාව පිළිබඳ සෑහීමකට පත්වීම

9. වර්තමානයේ කිතුනු අපගේ ප්‍රධානත ම කාර්යය වන්නේ කුමක් ද?
(1) දේව රාජ්‍යය ප්‍රකාශ කිරීම
(2) ජේසුස් වහන්සේගේ දෙවැනි පැමිණීම ප්‍රකාශ කිරීම
(3) සමාජ සේවයක පමණක් නිරත වීම
(4) අන් අය කිතු දහමට යොමුකර ගැනීම

10. පැරණි ගිවිසුමේ 'ගින්න' මගින් සංකේතවත් වන්නේ,
(1) දෙවියන් වහන්සේ එහි නොවන බව ය.
(2) දෙවියන් වහන්සේ එහි වැඩ සිටින බව ය.
(3) දෙවියන් වහන්සේ කාරුණික බව ය.
(4) දෙවියන් වහන්සේ සුව කරන බව ය.

11. පැරණි ගිවිසුමෙහි ආලේප ලත් අය පිළිවෙළින් සඳහන් වන වරණය වන්නේ,
(1) පූජකවරු, රජවරු සහ එඬේරුන් ය.
(2) පූජකවරු, දිවැසිවරු සහ රජවරු ය.
(3) රජවරු, දිවැසිවරු සහ එඬේරුන් ය.
(4) රජවරු, පූජකවරු සහ එඬේරුන් ය.

12. පහත ප්‍රකාශ සලකන්න.
A - ඔවුහු ආගමික බලධාරීන්ට බිය වූහ.
B - ඔවුහු ජේසුස් වහන්සේ පිලාත් වෙත ගෙන ගියහ.
C - ඔවුහු රෝමවරුන්ට විරුද්ධ වූහ.
D - ඔවුහු ජෙරුසලම ආගමික මධ්‍යස්ථානය ලෙස සැලකූහ.
ඉහත ප්‍රකාශ අතුරෙන් ජුදෙව් ජනතාව විදේශිකයන් මගින් පාලනය වූ බව දැක්වෙන ප්‍රකාශ මොනවා ද?
(1) A හා B (2) A හා C (3) B හා C (4) B හා D

13. දේව රාජ්‍යයේ උතුම් ම වටිනාකම වන්නේ,
(1) ආධිපත්‍යයයි.
(2) ප්‍රේමය සහ ධර්මිෂ්ටකමයි.
(3) ජුදෙව් ව්‍යවස්ථාවලිය අනුගමනය කිරීමයි.
(4) ජනතාව රැස්කර ගැනීමයි.

14. පහත ප්‍රකාශ සලකන්න.
A - මා අනුගාමී වන්න
B - නඟුලට අත තබා ආපසු නොබලන්න
C - මෙතැන් සිට ඔබ මිනිසුන් දිනනු ඇත
D - මළවුන්ගේ භූමදානය මළවුන් ම කළා වේ
ඉහත ප්‍රකාශ අතුරෙන් ජේසුස් වහන්සේ ගෝලයන් 12 දෙනා කැඳවීමේදී කළ ප්‍රකාශ මොනවා ද?
(1) A හා B (2) A හා C (3) B හා C (4) B හා D

15. දේව රාජ්‍යයේ වර්ධනය පිළිබඳ අබ ඇටය හා මුහුන් පිළිබඳ උපමා අනුසාරයෙන් අප ලබන පණිවුඩය
(1) අබ වර්ධනය වන්නේ අපේ උත්සාහය මගිනි.
(2) දේව බලය ක්‍රියාත්මක වන්නේ අපේ මූලිකත්වයෙනි.
(3) වර්ධනය සුළුවෙන් ආරම්භ වී දේව බලයෙන් වර්ධනයවීමයි.
(4) ආහාර පිසින විට මුහුන් යෙදීමෙන් පුදුමාකාර වර්ධනයක් අත්දැකීමයි.

16. ජේසුස් වහන්සේ සිදුකළ දේව රාජ්‍යයේ ලකුණු හෙවත් ප්‍රාතිහාර්ය මගින් අපට අනාවරණය වන්නේ,
(1) සුව කිරීම් සඳහා ප්‍රාතිහාර්යයන් අවශ්‍ය බවයි.
(2) දේව බලය තුළ අන් සියලු බල ව්‍යර්ථ වන බවයි.
(3) ප්‍රාතිහාර්යයන් කෙරෙහි පමණක් අප විශ්වාසය රඳවා ගත යුතු බවයි.
(4) ජේසුස් වහන්සේ ප්‍රාතිහාර්යයන් සිදුකළේ ජනතාව රැස්කර ගැනීමට බවයි.

17. ලූක් සුභසුන අනුව ජේසුතුමා මුහුණ දුන් පරීක්ෂාවලින් "නුඹේ දෙවියන් වහන්සේට පමණක් නමස්කාර කරන්න." යන පිළිතුර කුමන පරීක්ෂාවේදී ජේසුස් වහන්සේ භාවිත කරයි ද?
(1) පළමු පරීක්ෂාව (2) දෙවන පරීක්ෂාව
(3) තුන්වන පරීක්ෂාව (4) පරීක්ෂා තුනටම

18. පහත පණිවුඩ සලකන්න.
A - නිවැරදි දැක්ම කරා යොමුවීම
B - මෝසස් සහ එලියා දැකීමේ වැදගත් බව
C - කන්ද මත මණ්ඩප තුනක් සෑදීම
D - ජේසුස් වහන්සේගේ දේවත්වය අනාවරණය වීම
ඉහත පණිවුඩ අතුරෙන්, ජේසුතුමාගේ රූප විපර්යාස සිද්ධියෙන් කිතුනු අප වර්තමානයේදී ලබන පණිවුඩ මොනවා ද?
(1) A හා B (2) A හා C (3) A හා D (4) C හා D

19. ජේසුස් වහන්සේ කුරුසි පත්වීමට පෙර සිය ගෝලයන් සමග සැමරුවේ,
(1) කූඩාරම් මංගල්‍යය ය. (2) රාජ තේජසිංහයෙන් ජෙරුසලමට පිවිසීම ය.
(3) පාස්කු මංගල්‍යය ය. (4) දේව මැදුර පවිත්‍ර කිරීම ය.

20. ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් අනුව අප ස්ත්‍රී පුරුෂ දෙපක්ෂයට සැලකිය යුත්තේ,
(1) වෙන් වෙන් වශයෙන් ය. (2) සමානාත්මයෙන් ය.
(3) පුද්ගලභාවය අනුව ය. (4) අවස්ථාවට අනුකූලව ය.

21. ඔබට වරදක් කළ ශිෂ්‍යයෙකු/ශිෂ්‍යාවක සඳහා ඔබේ ප්‍රතිචාරය විය යුත්තේ,
(1) විදුහල්පතිට දැන්වීම ය.
(2) ඔබ විසින් ම එම ශිෂ්‍යයාට දඬුවමක් පැවරීම ය.
(3) මිත්‍රත්වයෙන් සහ සුහද ප්‍රේමයෙන් ක්‍රියා කිරීම ය.
(4) දෙමාපියන්ට දැනුම් දීම ය.

22. පහත කරුණු සලකන්න.
A - යුක්තිය හා සාධාරණත්වය
B - විනිශ්චය හා දඬුවම
C - බලාපොරොත්තුව සහ ප්‍රීතිය
D - යහපාලනය හා එහි වගවීම
ස්ථිර සාමය අනිවාර්යයෙන් ම පදනම් විය යුත්තේ ඉහත කුමන කරුණු මත ද?
(1) A හා C (2) A හා D (3) B හා C (4) B හා D

23. පහත දැක්වෙන කණ්ඩායම් සලකන්න.
A - සිනගෝග නායකයින්
B - සිතින් දිළින්දෝ
C - ළදරු ගතිගුණ ඇති අය
D - ව්‍යවස්ථාව පිළිපදින අය
ඉහත සඳහන් කණ්ඩායම් අතුරෙන් දේව රාජ්‍යයට හිමිකම් දැක්වීමට හැකි කණ්ඩායම් දෙක මොනවා ද?
(1) A හා B. (2) A හා C. (3) A හා D. (4) B හා C.

24. ජුදෙව් නායකයින් ජේසුස් වහන්සේව විනිශ්චය කිරීම සඳහා ඉදිරිපත් කිරීමට හේතු වූයේ,
(1) එතුමා තමා දෙවියන් වහන්සේ බව ප්‍රකාශ කිරීම නිසා ය.
(2) පීඩිතයින් වෙනුවෙන් පෙනී සිටීම නිසා ය.
(3) ගලීලයෙන් පැමිණියෙකු වීම නිසා ය.
(4) දේව මාළිගය පවිත්‍ර කිරීම නිසා ය.

[හතරවැනි පිටුව බලන්න.

**25.** ජේසුස් වහන්සේගේ විනිශ්චය සඳහා එතුමාව ඉදිරිපත් කළ ජුදෙව් ආයතන සහ පුද්ගලයන් වන්නේ,
(1) සැන්හෙඩ්‍රින් සභාව, පිලාත් සහ හෙරෝද් ය.
(2) ජුදෙව් මන්ත්‍රණ සභාව, උත්තම පූජකතුමා සහ හෙරෝද් ය.
(3) ජුදෙව් මන්ත්‍රණ සභාව, පිලාත් සහ හෙරෝද් ය.
(4) උත්තම පූජකතුමා, හෙරෝද් සහ පිලාත් ය.

**26.** "ස්වාමීනි ඔබ හා සමග හිරේ යාමට හා මරණයට වුව ද මම සූදානම් ව සිටිමි." මෙසේ පවසන ලද්දේ,
(1) පාවුල්තුමා ය. (2) ජුදස් ඉස්කාරියොත් ය.
(3) පේදුරුතුමා ය. (4) තෝමස් ය.

**27.** අප විසින් කිසිවකු වරදට පත් **නො කළ** යුත්තේ,
(1) අප සියල්ලෝ ම පව්කරුවන් නිසා ය.
(2) එකිනෙකාට සමාව දිය යුතු නිසා ය.
(3) අවසාන තීරණය දෙනු ලබන්නේ දෙවියන් වහන්සේ නිසා ය.
(4) අධිකරණය විසින් තීන්දුව දියයුතු නිසා ය.

**28.** පීඩා මධ්‍යයේ වුව ද කිතුනුවන් විශ්වාසී ලෙස ක්‍රියා කිරීමට හේතු වන්නේ,
(1) පරිපූර්ණ ජීවිතයක් සඳහා ජේසුස් වහන්සේ කෙරෙහි ඇති විශ්වාසයයි.
(2) අභියෝග තම ශක්තියෙන් මැඩ පැවැත්වීමේ බලාපොරොත්තුවයි.
(3) වෙනසක් ඇති කිරීම සඳහා සමාජය කෙරෙහි ඇති බලාපොරොත්තුවයි.
(4) අවශ්‍යතා ඇති විට දේවස්ථානය මගින් ඒවා සපුරාලනු ඇතැයි යන බලාපොරොත්තුවයි.

**29.** 'පෙන්තකොස්ත දින' සිදුවීම් හා අත්දැකීම් මගින් අප ලබන පණිවුඩය
(1) ශුද්ධාත්ම දානය ලැබෙන්නේ තෝරාගත් පිරිසකට බවයි.
(2) සියලු බාධක, බෙදීම් අභිබවා ශුද්ධාත්තමයාණන් ක්‍රියාකරන බවයි.
(3) ශුද්ධාත්තමයාණන් සම්බන්ධ වන්නේ අධිස්වාභාවික අත්දැකීම්වලට බවයි.
(4) ශුද්ධාත්තමයාණන් පිළිබඳ මතය වන්නේ විවිධ භාෂාවලින් කථා කරන බවයි.

**30.** මුල් අවස්ථාවේ කිතුනුවන් පීඩාවට ලක්කළ පාවුල් පසුව ක්‍රිස්තුස් වහන්සේ වෙනුවෙන් පීඩා විඳීමට පවා යොමු වූයේ කුමක් නිසා ද?
(1) ජුදා ආගම පිළිබඳ හසල දැනුමක් වූ නිසා ය
(2) විජාතීන් කෙරෙහි තිබූ ප්‍රේමය නිසා ය
(3) ජීවමාන ක්‍රිස්තුස් වහන්සේ මුණගැසීමේ අත්දැකීම නිසා ය
(4) අනානියස් මගින් පෙනීම ලැබුණු නිසා ය

**31.** බහුවිධ සමාජයක වෙසෙන කිතුනුවාට පාවුල්තුමාගේ ධර්මදූත චාරිකා මගින් උගත හැකි පාඩම් මොනවා ද?
(1) ප්‍රඥාවෙන් හා සංවේදී ව ක්‍රියාකිරීම
(2) අවස්ථාව කෙසේ වුවද නිර්භය ව කථා කිරීම
(3) සියලුදෙනා සතුටු කිරීම සඳහා කිතුනු මූලධර්ම පාවා දීම
(4) දේශපාලන මැදිහත් වීම සහ ආරක්ෂාව පැතීම

**32.** ඔබගේ කිතුනු ධර්ම සේවයේදී මතවාද පැන නැඟුණ විට ඔබේ පිළිවෙත විය යුත්තේ කුමක් ද?
(1) තම මතය ක්‍රියාත්මක කිරීමට තරයේ ම කියා සිටීම
(2) සේවය පිළිබඳ කලකිරීමෙන් පසු බැසීම
(3) නිහතමානීව ඔබේ මත හා අදහස් ඉවත් කිරීම
(4) සේවයට බාධා නොවන ලෙස එම තීරණ ප්‍රඥාවන්තව ක්‍රියාත්මක කිරීම

**33.** පහත සඳහන් කරුණු අතුරෙන් දෙවියන් වහන්සේගේ කැමැත්තට ප්‍රමුඛත්වය දෙනු ලබන්නේ කුමක් ද?
(1) "මාගේ කැමැත්ත නොව, ඔබගේ කැමැත්ත වේවා!"
(2) "පරීක්ෂාවට නොවැටෙන පිණිස යාච්ඤා කරන්න."
(3) "මාගේ ගෘහය යාච්ඤා ගෘහයක් ලෙස හැඳින්වේ."
(4) "ඔබගේ විශ්වාසය නොබිඳෙන ලෙස මා යාච්ඤා කළෙමි."

**34.** පහත දැක්වෙන ප්‍රකාශ අතුරෙන් එම්මාවුස් වෙත ගමන් කළ ගෝලයන් දෙදෙනාගේ ප්‍රකාශය කුමක් ද?
(1) "උන්වහන්සේ උත්ථාන වූ සේක."
(2) "ජීවමාන තැනැත්තන් මළවුන් අතර සොයන්නේ මන් ද?"
(3) "ඔබගේ සිත්වල සැක උපදින්නේ නැත."
(4) "ඒකාන්තයෙන්ම සමිඳාණන් වහන්සේ නැගිට සිටින සේක."

**35.** චර්ම ඡේදන පිළිවෙත ව්‍යවස්ථාව සම්බන්ධයෙන් පේදුරු සහ ජාකොබ්, ජෙරුසලමේ මන්ත්‍රණ සභාවේ අන්‍ය ජාතීන් පිළිබඳ ගත් තීරණය
(1) සියලුදෙනා චර්ම ඡේදන පිළිවෙත අනුගමනය කළ යුතු බවයි.
(2) චර්ම ඡේදන පිළිවෙත පෞද්ගලිකව ගත යුතු තීරණය බවයි.
(3) ජුදෙව්වන් පමණක් චර්ම ඡේදන පිළිවෙත අනුගමනය කළ යුතු බවයි.
(4) කිසිවෙක් චර්ම ඡේදන පිළිවෙත අනුගමනය කිරීම අවශ්‍ය නොමැති බවයි.

**36.** ඔබ දේවස්ථානයේ පවතින වාදභේද සමථයකට පත් කරන්නේ කෙසේ ද?
(1) බෙදුන කණ්ඩායම්වලට ස්වාධිපත්‍යය පැවරීම
(2) සාවධානව ඇහුම්කන්දී සැමට පිළිගත හැකි සැම එක්ව තබන විසඳුමක් දීම
(3) ප්‍රශ්න නිරාකරණය සඳහා අධිකරණයට යොමු කිරීම
(4) විවිධ කණ්ඩායම්වලට ඔවුන්ගේ ප්‍රශ්න වෙනම විසඳා ගැනීමට යොමු කිරීම

**37.** පහත දක්වා ඇති අභියෝග සලකන්න.
A - නිදොස් වුව ද වින්තිකරුවන් බවට පත් කර සිර අඩස්සියට ගැනීම
B - දේවස්ථානයේ උසස් තානාන්තර හිමිවීම
C - සමාජයේ උසස් පිළිගැනීමක් හිමිවීම
D - සමාජයෙන් ම ප්‍රතික්ෂේප වීම

ඉහත ඒවා අතුරෙන් ජේසුස් වහන්සේ අනුගමනය කරමින් ක්‍රියාකරන විට අපට මුහුණපෑමට සිදුවන්නේ කුමන අභියෝගවලට ද?
(1) A හා B (2) A හා C (3) A හා D (4) B හා C

**38.** තිස්ස බාලසූරිය දේවගැතිතුමාගේ සේවය සම්බන්ධයෙන් පහත සඳහන් කුමන ප්‍රකාශය ඍජුව සම්බන්ධවේ ද?
(1) සාමය ප්‍රකාශ කරමින් ලෙඩුන් සුව කිරීම
(2) පීඩිතයන් මුදා ගනිමින් ලෙඩුන් සුව කිරීම
(3) පීඩිතයන් මුදා අන්ධයන්ට පෙනීම ලබා දීම
(4) සාමය සහ සුබ අස්න දිළිඳුන්ට ප්‍රකාශ කිරීම

**39.** බැතිමතුන් අතර පැතිරී තිබූ වැරදි අවබෝධයන් සහ විශ්වාස පිළිබඳ ව පාවුල් සභාවන් ගත් ක්‍රියාමාර්ගය කුමක් ද?
(1) හසුන්පත් යැවීමෙන් නිසි අවබෝධයක් ලබාදීම
(2) පිළිනොගන්නා අය ප්‍රතික්ෂේප කරමින් සභාවෙන් නෙරපා දැමීම
(3) එම ප්‍රශ්න ඔවුන් අතරේ ම විසඳා ගැනීමට ඉඩ දීම
(4) එම පළාත්වල නායකයින් ප්‍රශ්න විසඳීමට යොමු කිරීම

**40.** මුල් සභාවේ ආදර්ශය වන සැම දෙයක් ම පොදුවේ තබා ගැනීමේ සංකල්පය මගින් වර්තමානයේ ඔබ අදහස් කරන්නේ කුමක් ද?
(1) කිසිවක් පුද්ගලිකව තබා නොගැනීම
(2) බැතිමතුන් තම වත්කම් දේවස්ථානයට පවරා දීම
(3) සියලු බැතිමතුන් තමා සතු දේ බෙදා ගැනීමෙන් ක්‍රියා කිරීම
(4) බෙත්ලෙහෙමේ ජීවන රටාවට ආපසු යාම

* *

[ගයවැනි පිටුව බලන්න.

සියලු ම හිමිකම් ඇවිරිණි / முழுப் பதிப்புரிமையுடையது /All Rights Reserved]

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**15 S I, II**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2022(2023)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2022(2023)**
**General Certificate of Education (Ord. Level) Examination, 2022(2023)**

| | |
|---|---|
| **ක්‍රිස්තියානි ධර්මය** | **I, II** |
| கிறிஸ்தவம் | **I, II** |
| Christianity | **I, II** |

## ක්‍රිස්තියානි ධර්මය II

* **පළමුවැනි** ප්‍රශ්නය හා තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළු ව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
* පළමුවැනි ප්‍රශ්නයට ලකුණු **20** ක් ද තෝරා ගන්නා අනෙක් ප්‍රශ්නයකට ලකුණු **10** බැගින් ද හිමි වේ.

**1.** (i) (අ) දෙවියන් වහන්සේ මනුෂ්‍යයා මවන ලද්දේ කුමකින් ද?

(ආ) ඔවුනට ජීවනය දීම සඳහා එතුමාණන් කුමක් කළ සේක ද?

(ii) "නුඹේ මව්බිම ද නෑදැයන් ද, නුඹේ පියාණන්ගේ ගෘහය ද අතහැර දමා මා පෙන්වන දේශයට යන්න."

(අ) මෙසේ පවසන ලද්දේ කා හට ද?

(ආ) එසේ යන ලද පුද්ගලයාගේ කුමන ගුණාංගයක් ඉස්මතුවේ ද?

(iii) ජේසුස් වහන්සේ උගන්වන ලද ස්වාමින්ගේ යාච්ඤාවේ ඇති පව් කමාව පිළිබඳ වැදගත් අංග **දෙක** සඳහන් කරන්න.

(iv) මෙසියස්තුමාගේ පැමිණීම ප්‍රකාශ කළ දිවැසිවරුන් **දෙදෙනෙකු** නම් කරන්න.

(v) (අ) 'එමානුවෙල්' යන නම කුමන බසකින් පැවත එන්නේ ද?

(ආ) එහි අර්ථය කුමක් ද?

(vi) ජුදෙව් ආගමික කණ්ඩායම් අතර පුනරුජ්ජීවනය නොපිළිගන්නා **එක්** කණ්ඩායමක් සහ පුනරුජ්ජීවනය පිළිගන්නා **එක්** කණ්ඩායමක් බැගින් නම් කරන්න.

(vii) (අ) රාත්‍රි කාලයේ ජේසුස් වහන්සේ හමුවීමට ආගමික නායකයෙකු පැමිණියේ ය. ඔහුගේ නම කුමක් ද?

(ආ) ඔහු කුමන ජුදෙව් කණ්ඩායමට අයත් වේ ද?

(viii) (අ) ශුද්ධ ජොහාන්ගේ සුබසුනේ 4 වන පරිච්ඡේදයේ ජේසුස් වහන්සේ ජාතික හා වාර්ගික බාධක අභිබවා ක්‍රියාකළ අවස්ථාවක් සඳහන් වේ. ජේසුස් වහන්සේ ඉල්ලුවේ කුමක් ද?

(ආ) එතුමාට ලැබුණු මූලික ප්‍රතිචාරය කුමක් වී ද?

(ix) ශුද්ධ ජොහාන්ගේ සුබසුනේ 4 වන පරිච්ඡේදයේ ඉදිරිපත් කෙරෙන, එවකට ජුදෙව් සමාජයේ පැවති ජේසුස් වහන්සේ මුහුණ දුන් ජාති භේද හා ලිංග භේද කුමක් වී ද?

(x) අපට සදාතන ජීවිතය ලැබෙන්නේ ජේසුස් වහන්සේගෙන් ය. අපේ ජීවිත පරිවර්තනයක් මගින් තිබිය යුතු ගුණාංග **දෙකක්** ඉදිරිපත් කරන්න.

**2.** (i) දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති ඉදිරිපත් කිරීමට ජේසුස් වහන්සේ යොදාගත් උපමා **දෙක** කුමක් ද?

(ii) එම උපමා මගින් අප වෙත ඉදිරිපත් කෙරෙන ඉගැන්වීම් **තුනක්** සඳහන් කරන්න.

(iii) වර්තමානයේ කිතුනු ජනයා ලෝකයේ සෙසු අය සමග සබඳතා පැවැත්වීමේදී කෙසේ ක්‍රියා කළ යුතු දැයි දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති **පහක්** ඇසුරෙන් පහදන්න.

[හත්වැනි පිටුව බලන්න.

3. (i) ලූක් සුබසුන අනුව ගෙනසෙරත් විල අසලදී ජේසුස් වහන්සේ කැඳ වූ ගෝලයන් **දෙදෙනෙකු** නම් කරන්න.

(ii) ජේසුස් වහන්සේ ගෝලයන් දොළොස්දෙනා කැඳවන අවස්ථාවේදී, ඔවුන් අතුරෙන් **තිදෙනෙකු** කුමන රැකියාවල නිරත වී සිටියේ දැයි සඳහන් කරන්න.

(iii) 'අපෝස්තුලු/ප්‍රේරිත' යන වචනයේ අර්ථය ලියා, අද සමාජයට එහි වැදගත්කම කුමක් දැයි කරුණු **හතරක්** ඇසුරෙන් විස්තර කරන්න.

4. (i) මිටියාවතේ දේශනාවෙන් ජේසුස් වහන්සේ ඉදිරිපත් කරන ප්‍රතිවිරුද්ධ ජීවන රටා **දෙක** කුමක් ද?

(ii) කිතුනුවන් වශයෙන් එම දේශනය අනුව අප ජීවිත හැඩගස්වා ගත යුතු අවස්ථා **තුනක්** ඉදිරිපත් කරන්න.

(iii) සමකාලීන ශ්‍රී ලංකාවේ වෙසෙන කිතුනුවන් වශයෙන් ශුද්ධ ලියවිලි කියවීමෙන් හා මිටියාවතේ දේශනයෙන් අප ජීවිත හැඩගස්වා ගැනීමට උපකාරී වූ අන්දම පිළිබඳ කරුණු **පහක්** ඉදිරිපත් කරන්න.

5. (i) දෛනික ජීවිතයේදී අපට උපකාරී වන ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් **දෙකක්** ඉදිරිපත් කරන්න.

(ii) ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් අනුව අප ජීවිත හැඩගස්වා ගතයුත්තේ මන්දැයි දක්වා, එමගින් අපට ලබාගත හැකි ප්‍රතිඵල **තුනක්** ලියන්න.

(iii) විකල්ප ජීවන රටාවක් ළඟා කර ගැනීමට කිතුනු අප විසින් මූලිකත්වය දිය යුතු අංශ **පහක්** විස්තර සහිතව පහදන්න.

6. (i)
- පාවුල්තුමාගේ පළමු වන ධර්ම දූත සේවය ඇරඹුවේ කුමන නගරයෙන් ද?
- ගමන් ආරම්භයට පෙර එහි සමූහයා කළේ කුමක් ද?

(ii) පාවුල්තුමාගේ දෙවන ධර්ම දූත චාරිකාවේදී ගිය ස්ථාන **තුනක්** සඳහන් කර, ඔහු සමග ගමන් ගත් හෝ උපකාර කළ පුද්ගලයන් **තිදෙනෙකු** නම් කරන්න.

(iii) පාවුල්තුමාට මෙම චාරිකාවලදී විවිධ පුද්ගලයන් සමග සහ විවිධ අවස්ථාවන්ට මුහුණ දීමට සිදුවිය. පහත සඳහන් අය අතුරෙන් එක් පුද්ගලයෙකු තෝරාගෙන, එම පුද්ගලයා මුණගැසුණ අවස්ථාවේදී පාවුලුතුමා ක්‍රියා කළ ආකාරයෙන් වත්මන් ශ්‍රී ලංකාවේ ධර්මදූත සේවයෙන් සුබසුන ප්‍රකාශ කිරීමේදී ගත යුතු මඟපෙන්වීම කුමක් දැයි පැහැදිලි කරන්න.

(අ) එලිමස්

(ආ) ඊර්ෂ්‍යා කළ ජුදෙව්වන්

(ඉ) වහල් කාන්තාව හිමිකරගෙන සිටි අය

(ඊ) එපිකූරි සහ ස්තොයික දාර්ශනිකයන්

(8) WWW.PastPapers.WiKi (7)
[අටවැනි පිටුව බලන්න.
Downloaded from Past Papers Wiki - Extensive collection of Past papers, Notes and much more!

**7.** පහත සඳහන් මාතෘකා අතුරෙන් **දෙකක්** තෝරා ගෙන කෙටි සටහන් ලියන්න. ඒ සඳහා දී ඇති උපදෙස් වාක්‍ය භාවිත කරන්න.

(i) පෙරමග දූතයා

- පෙරමග දූතයා ලෙස නම් කෙරුණු පුද්ගලයා සහ ඔවුන්ගේ කාර්යභාරය
- මොහු සිය කාලය වැඩි වශයෙන් ගතකළ පරිසරය
- මොහුට සවන් දීමට පැමිණි කණ්ඩායම් හා ඔවුනට දුන් අවවාද
- එම පැමිණි ජනතාවගේ අවධානය යොමු කළේ කවුරුන් හටද යන්න
- මොහුගේ චරිතය සහ පණිවුඩය අද අපට වැදගත් වන අන්දම

(ii) ජුදෙව් චාරිත්‍ර

- ජේසුස් වහන්සේගේ කාලයේ පැවති විවිධ ජුදෙව් චාරිත්‍ර
- ජේසුස් වහන්සේගේ දෙමාපියන් බිළිඳු ජේසුතුමා සඳහා ඉටුකළ චාරිත්‍ර සහ වයස අවු. 12දී ඉටු කළ චාරිත්‍ර
- බිළිඳෙකු ලෙස දෙව් මැදුරට ජේසුතුමා ගෙනගිය අවස්ථාවේ එහි සිටි පුද්ගලයන් දෙදෙනා
- මොවුන් බිළිඳු ජේසුතුමා හා මරියතුමියට කරන ලද ප්‍රකාශ
- 12 හැවිරිදි ජේසුස්තුමා ජුදෙව් නායකයන් සංවාදයේ යෙදී සිටි අවස්ථාවේ සිය දෙමාපියන් හට දැක්වූ ප්‍රතිචාරය අද දින අපට වැදගත් වන අන්දම

(iii) දේව දූතයන්ගේ මෙහෙවර

- දේව දූත මෙහෙවර ලැබූ පුද්ගලයන් සහ කණ්ඩායම
- ඉටු කළ මෙහෙවර සහ ඒ හා බැඳි අවස්ථා
- ඉදිරිපත් කළ පණිවුඩ
- දේව දූත මෙහෙවර ලැබූ පුද්ගලයන් හා කණ්ඩායම් දැක් වූ ප්‍රතිචාර
- අද දේව දූතයන් වශයෙන් අප හඳුනා ගන්නා පුද්ගලයන් සහ ඔවුන්ගේ දූත මෙහෙවර

(iv) නාසරත් සිනගෝගයේ දේශනය

- නාසරත් සිනගෝගයේ දේශනයේ විශේෂත්වය
- දේශනයේ සඳහන් සමාජ කණ්ඩායම් කෙරෙහි දැක් වූ බලපෑම
- පැරණි ගිවිසුමේ පුද්ගලයන් දෙදෙනෙකු ඉදිරිපත් කිරීම මගින් එතුමා සවන්දී සිටි ජනතාවට දෙනු ලැබූ පණිවුඩය
- දේශනයට සවන් දුන් සිනගෝගයේ ජනයාගේ ප්‍රතිචාරය
- මෙම දේශනයට අනුව අද සමාජයේ සේවය කළ යුතු ජන කණ්ඩායම්

* * *

PAST PAPERS WIKI

(8) WWW.PastPapers.WiKi (8)

Downloaded from Past Papers Wiki - Extensive collection of Past papers, Notes and much more!